# සිංහලයන් නැතිදාට බුදු දහම...?

අතිපූජ්‍ය අග්ගමහාපණ්ඩිත මඩිහේ පඤ්ඤාසීහ මහානායක ස්වාමීන්ද්‍රයන් වහන්සේ

"ජාති මෙ සිංහල බුදු සමයෙන් පිට ගියදා වැනැසෙයි භූපතිනේ" මෙය පුරාණ ගොවියන් කුඹුරු කොටමින් කී කවියෙක පදයෙකි. "බුද්ධාගම නැතිදාට සිංහල ජාතියත් නැත්තට ම නෑ" යයි කීවේ ශ්‍රීමත් පොන්නම්බලම් රාමනාදන් තුමා ය.

බුද්ධාගමෙන් තොර සිංහලයෙක් ද නැත. සිංහලයාට බුද්ධාගමෙන් තොර කිසිවකුත් නැත යනු උගතුන් විසින් පිළිගන්නා ලද සිද්ධාන්තයෙකි.

මේ හැම කියමනෙකින් ම ප්‍රකාශ වන්නේ සිංහල ජාතියත් බුද්ධාගමත් අතර කොතරම් දැඩි සම්බන්ධයක් පැවතුණා ද, දැන් පවතී ද යන්න යි.

යම් කිසි ජාතියෙක වැදගත්කම දැක්විය හැකි ගොඩනැඟිලි, නාට්‍ය හා චිත්‍රකලා, සාහිත්‍යය, ඉතිහාසය, ශිෂ්ටාචාරය, වර්ෂය හා කොඩිය යන ආදී මේ හැම දෙයින් ම සිංහලයාට නම් බුද්ධාගමෙන් තොර ව පෙන්විය හැකි කිසිවක් නැත. බෞද්ධ වචනවලින් තොර ව සිංහලයාට කතා කරන්නට වචන වත් සොයා ගැනීම දුෂ්කර ය. ඒ බව උදේ ගුවන්විදුලියේ "දවසේ සිතුවිලි" වලට ඇහුම්කන් දුන් විට වැටැහෙනවා ඇත.

මේ කාරණය නිසා අවුරුදු දෙදහසකටත් වැඩි කාලයක් ලංකාවේ පැවැතුණේ බෞද්ධ පරිසරයෙකි. ලංකාවේ බෞද්ධ පරිසරය කොපමණ හොඳින් පැවැතුණාද යනු ලෝකයෙහි පැතිරී ගිය ගුණ ඝෝෂයෙන් ම පැහැදිලි වෙයි. චීන ජාතිකයන් "රත්නදීප" යයි ද, සියම් ජාතිකයන් "දේව ලංකා" යයි ද, බුරුම වැසියන් "සිංහ විහාර" යයි ද, හින්දූන් "ස්වර්ණ ලංකා" යයි ද ව්‍යවහාර කළේ තම ගෞරවය මේ දිවයිනට දැක්වීමට ය.

"තම්බපර්ණී" ද්වීපය චෛත්‍ය මාලායෙන් ද, අර්හත් ධ්වජයෙන් ද බබළයි. එහි රිසියෙන තැනෙක හිඳිනට ද හෝනට ද හැකිය. ඍතුසප්පාය, සේනාසනසප්පාය, පුද්ගලසප්පාය, ධම්මසවණසප්පාය යන හැම පහසුකමක් ම සුලබ යයි දඹදිව පුරා පැතිරී තිබුණු කීර්ති රාවයෙන් ද ලංකාවේ පැවැති පරිසරය කෙබඳු දැ යි සිතා ගත හැකි ය.

පෙර ලක්දිව මහාමාර්ග, පදික මාර්ග, පැන් හල්, ගේ දොර, තොටුපළවන්, කඳු කැලෑ, ගල්ලෙන්, ගුහාකුටි, විහාරශාලාදී ස්ථානයන් අතුරින් යම් යම් අය මාර්ග ඵල නො ලත් තැනක් නම් නොවූ බව ද, පිඬු සිඟා වැඩ මඳක් බලාපොරොත්තු වන ප්‍රස්තායෙහි පවා ඇතැම් පැවිද්දන් මග පල ලැබූ බව ද, එක් කලෙක ලක්දිව එක ම පුහුදුන් භික්ෂුවක්වත් නො සිටි බව ද විභංග අටුවාහි සඳහන් වේ. මෙයිනුදු ලංකාවේ තිබුණු පරිසරය කෙබඳු දැයි සිතා ගත හැකි ය.

මෙසේ ලංකාවේ අවුරුදු දෙදහසකටත් වැඩි කාලයක් පැවැති බෞද්ධ පරිසරය විදේශීන්ගේ පැමිණීම නිසා ඉබේ ම නැති වුණා නො වේ. එය ඔවුන් විසින් බලයෙන් ම විනාශ කරනු ලැබිණි. එසේ විනාශ වුණු බෞද්ධ පරිසරය නැවතත් ඇතිකැර ගැනීමට තිබෙන බාධා නැතිකැර දැමීමට බලවත් උද්ඝෝෂණයක් ඇති කළ යුතු ය.

බෞද්ධ පරිසරයට ඇති බාධක මොනවා ද?

1. මෙරට හා පිටරට මත්පැන්
2. රේස් හා කානිවල් නමින් හැඳින්වෙන නා නා සූදු
3. අඩ නිරුවත් නැටුම්
4. කොක්ටේල් පාටි
5. ආලිංගන නැටුම්
6. සතුන් ඇති කැරගෙන කන්නට උගන්වන ආයතන

7. කාමකෝප අවුස්සන අසභ්‍ය චිත්‍රපට, රූපවාහිනිය, කැසට් ටේප්, වීඩියෝ ටේප්, පොත් පත්

8. ගුණ දහම් වනසන අබෞද්ධ අධ්‍යාපනය

යන මේවා බෞද්ධ පරිසරයට ඇති බාධකයන්ගෙන් කිහිපයෙකි.

විශේෂයෙන් අබෞද්ධ අධ්‍යාපනය මේ හැම දුශ්චරිතයකට මුල් වෙයි. එය ඔප්පු කිරීමට මේ අධ්‍යාපන ක්‍රම ඉහළටම දියුණු වී ඇති අමෙරිකාවේ දුශ්චරිත ලේඛනය ඔබට උපකාර වෙනවා ඇත.

අපරාධ අධ්‍යක්ෂවරයාගේ වාර්තාව අනුව හැම තත්පර 15 කට ම අමෙරිකාවේ මහා අපරාධය බැගින් සිදු වේ. හැම විනාඩි 40 කට ම මිනී මැරීමක් හෝ සිය දිවි නසා ගැනීමක් හෝ ගැන අසන්නට ලැබේ. විනාඩි 29 කට එක බැගින් ස්ත්‍රී දූෂණ සිදු වෙයි. හැම විනාඩි 8 කට වරක් සොරකමක් හෝ විනාඩි පහකට වරක් පහර දීමක් හෝ වාර්තා වෙයි. විනාඩියෙන් විනාඩියට ගෙවල් බිඳීමක් වාර්තා වෙයි. තත්පර 25 න් 25 ට සුළු සොරකමෙකි. විනාඩි දෙකහමාරකට වරක් මොටෝ රිය සොරකමෙකි.

තමා පරීක්ෂා කළ අමෙරිකානු කාන්තාවන්ගෙන් 26% ක් ද, පිරිමින්ගෙන් 50% ක් ද විවාහයෙන් පසු ව දුසිරිතෙහි යෙදෙන බව ඔප්පු වී ඇතැයි වෛද්‍ය කිංසි කියා ඇත. තමාට හමු වූ අමෙරිකානු ස්ත්‍රීන්ගෙන් 50% ක් විවාහයට පෙර අනාචාරයේ හැසුරුණු අය වන අතර, උගත් ශිෂ්‍යාවන් අතර නූගත් අයට වඩා දුරාචාරය වැඩි යයි ද දොස්තර කිංසි කියයි. තමා පරීක්ෂා කළ ගැහැණුන්ගෙන් 90% ක් සිරගෙට යැවිය හැකි තරම් දරුණු "කාම වැරැදි" කැර ඇතැයි ද හෙතෙම වැඩි දුරටත් කියයි.

තම දරුවන් අසත්පුරුෂ විදේශීන් විසින් පෙත්තෙන් පෙත්තට කපනු ලබද්දීත් බුද්ධාගම අත් නොහළ සිංහලයා තනතුරට, රක්ෂාවට, ආවාහ විවාහයට පවා ආගම අත් හරින තත්වයට පැමිණියේ මේ අබෞද්ධ අධ්‍යාපනය නිසා නො වේ ද? අප රට වැද්දන් පවා පන්සිල්හි තුන්වැනි ශික්ෂාපදය කඩ නො කොට ආරක්ෂා කළ බව වැද්දන් ගැන තොරතුරු සෙවූ සී. ජී. සෙලිග්මාන් මහතා ලියා ඇත. අද ඒ තත්ත්වය වෙනස් වී ඇත. එ බඳු කරුණුවලින් වැද්දන් පවා අශීලාචාර වූයේ මේ අබෞද්ධ ව්‍යාපාර නිසා නො වේ දැයි සලකා බලන්න.

කරුණු මෙ සේ හෙයින් බෞද්ධ පරිසරයක් නැවත ඇති කිරීමට නම් රටේ අධ්‍යාපනය මෙ රට ශිෂ්ටාචාරයට අනුකූල විය යුතු ය.

බෞද්ධ අධ්‍යාපනය යනුවෙන් විශේෂ අධ්‍යාපන ක්‍රමයක් නො විය හැකි ය. මෙ කල උසස් යැයි පිළිගත් කවර අධ්‍යාපන ක්‍රමයක් වුවත් දිය යුත්තේ සංවරය, හැදියාව පසුබිම් කැරගෙන මේ රටේ ශිෂ්ටාචාරයට ගැළැපෙන පරිදි ය. ලංකාවේ ශිෂ්ටාචාරය බෞද්ධ ශිෂ්ටාචාරය යි. එය කාහට වත් හානිකර එකක් නො වේ. අපේ ශිෂ්ටාචාරයට ගැළැපෙන අධ්‍යාපනයක් ලැබූ කාලයෙහි අප රට පැවැති සාමය කොපමණ උසස් දැයි ඉතිහාසයෙන් හා ලෝක වාර්තාවලින් ද දැන ගත හැකි ය. ඉන් කීපයක් මෙසේ ය.

මැනැවින් හැඳ පැලඳ ගත් රූමත් අඟනකට වටිනා මැණිකක් අතැ තබාගෙන ලංකාවේ මුළුල්ලේ ම ඇවිදින්නට පිළිවන්කම තුබුණු බව රංගිරි දඹුල්ලෙහි සෙල් ලිපියෙන් පෙනේ.

"මාගේ මුතුන් මිත්තන් වනචාරී ව සිටිය දී යුෂ්මතුන් ගේ මුතුන් මිත්තන් සතු ව තිබුණු සභ්‍යත්වයත් දක්ෂතාවයත් ගැන සිතූ මා තුළ ඉතා ම නිරහංකාර නිහතමාන සිතිවිලි බලපවත්වන්නට විය" මේ වනාහි ලක්දිව පළමු නිදහස් උත්සවයට පැමිණි මහා බ්‍රිතාන්‍යයේ විදේශ භාර ඇමැති තැන්පත් ලිස්ටෝවල් සාමි කළ ප්‍රකාශයෙකි.

ලංකාවේ අවුරුදු විස්සක් පමණ වාසය කළ රොබට් නොක්ස් තුමා කීවේ මෙසේ ය. "සිංහලයෝ වනාහි දඹදිව දී මා විසින් දක්නා ලද අන් හැම මිනිසුනට ම වඩා යහපත් අය වෙති. ඔවුහු අන් හැම මිනිසුනට ම වඩා භාග්‍ය සම්පන්න ද වෙති. ඔවුහු මධුර කථා ඇති ආචාරශීලී මනුෂ්‍යයෝ ය.

සිංහලයන්ගේ ගුණ ධර්ම සැකෙවින් වර්ණනා කරත හොත් මෙසේ ය. ඔවුන්ගේ ගමන් ලීලාව ද, හැසිරීම ද ඉතා උදාර ය. යම් කිසිවක් වහා තේරුම් ගත හැකි විචක්ෂණ ඥානයක් සිංහලයනට ඇත්තේ ය. ඔවුහු ස්වභාවයෙන් මස් කෑමත්, මත් පැන් බීමත් අප්‍රිය කරති. ඔවුහු කිපෙනසුලු නො වෙති. කෝපයක් ඇති වුව ද එය වහා සංසිඳවා ගෙන සමඟි වෙති. සිංහලයෝ ඇඳුමෙන් පිරිසිදු ය. ඉතා ශිෂ්ට ලෙස ආහාර අනුභව කරති, වැඩි වේලා නො නිදති. සිංහල ස්ත්‍රීන්ගේ හැසිරීම සුවිනීත ය. ගමන් ලීලාව ද ඉතා සංවර ය. සිංහල ස්ත්‍රීහු අරපරෙස්සමෙහි ඉතා දක්ෂ වෙති. ස්වාමි පුරුෂයෝ ස්වකීය භාර්යාවන් අතිශයින් ම විශ්වාස කෙරෙති. සිංහල ස්වාමි දුව කොතරම් මහේශාඛ්‍ය වුවත් කොතරම් දැසි දසුන් සිටියත් සියතින් ම ගෙදර සියලු කටයුතු කරති.

සිංහලයෝ උදේ සවස පිළිම වහන්සේ ඉදිරියෙහි මල් පූජා කෙරෙති. නවගුණ වැල් අතින් ගෙන නිතර භාවනාවෙහි යෙදෙති. සොරකම අතිශයින් ම පිළිකුල් කොට සලකති. කිසි ම සිංහලයකු කවදාවත් සොරකමක් කළ බවක් මම නො දනිමි. සිංහලයෝ කරුණා කෙරෙති. පරහට උපකාර කෙරෙති. ආගන්තුකයනට දයාවෙන් සංග්‍රහ කෙරෙති. සිංහලයන් ළඟ මේ ගුණ ධර්ම ඇති බව අත්දැකීමෙන් ම දනිමි.

සිංහලයන්ගේ භාෂාව ද සිංහලයන් මෙන් ම පොහොසත් ය. එය මටසිලිටි ය. සුමධුර ය අලංකාර ය. සිංහලයෝ චතුර කථිකයෝ ය. සිංහල ද්වීපයෙහි එක ම සිංහල හිඟන්නෙක් වත් නැත.”

මේ කරුණු හොඳින් සලකා බලා බෞද්ධ පරිසරයකට ඇති බාධා දුරු කොට උපකාරක ධර්ම ළඟා කොට බෞද්ධ පරිසරයක් ඇති කිරීමට හැම බෞද්ධයකු ම උත්සාහ දැරිය යුතු ය. එසේ කිරීමට නම් ඉන්දියාවේ ධර්මාශෝක රජතුමා හා ලංකාවේ දුටුගැමුණු රජතුමා ආදීන් මෙන් නිර්මල බුද්ධ ධර්මය රටේ අස්සක් මුල්ලක් නෑර පැතිර විය යුතු ය.

ගමක් පාසා බෞද්ධ පාඨශාලා හා දහම් පාසල් ඇති කළ යුතු ය. හැම ආරාමයක ම ධර්ම දේශනා හා ධර්ම සාකච්ඡා පවත්වා මහජනයාට ද ධර්මය ඉගැන්විය යුතු ය. සීල භාවනාදී ගුණ ධර්ම පුරුදු පුහුණු කරවිය යුතු ය.

පන්සලේ දී මෙන් ම ගෙදර දීත් පාසලේ දීත් සමාජයේ අන් හැම තැන්වල දීත් හැම කතාවක්, හැම ක්‍රියාවක්, හැම සිතිවිල්ලක් හා හැම ඉරියව්වක් ම ධාර්මික ව පවත්වන්නට පිළියෙල යෙදිය යුතු ය.

දවස 1984.05.14